# කම්මැලියට ලියමනක්




තැපැල් සීයා ගෙවල් ගානේ යමින්,
දොරවල්වලට තට්ටු කරමින්,
වැඩක් පළක් බැරි කම්මැලියා
සොයනවා!
එයාට ලියමනක් බාර දෙන්න.

"මෙහෙ එහෙම ඉන්නවාද
වැඩක් පළක් බැරි කම්මැලියෙක්!
මං ළඟ එයාට දෙන්න
ලියමනක් තියෙනවා!"

"අපි නම් කම්මැලි නෑ සීයේ
අපට ඔය ලියමන එපා!"
සීයා යන යන තැන ළමයි
කියනවා.



එක ගෙදරක අයියා කෙනෙක්
දොර ඇරගෙන ආවා.
"වැඩක් පළක් බැරි කම්මැලියා
ඔයාද?"




සියා ලියමන දෙමින්
ඇහුවා!

"අනේ සීයෙ මම නම්
නෙමෙයි"
අයියා කිව්වා.

"සුප් බොන්න ගිහින්
මේ කම්මැලි ළමයා
හැම තැනම
ඉහිරවන්!"
ඊළඟ ගෙදර
අම්මා කියනවා
ඇහුණා.



"හා! වැඩක් පළක් බැරි
කම්මැලියා ඔයා නේද?

"නැහැ මම සුප්
ඉහිරවන්නෙත් නැහැ."

"අපේ ගෙදර වැඩ පළ බැරි
කම්මැලියෝ නැහැ මාමේ."
ළමයින්ගෙ අම්මත් කිව්වා.




ඊළඟ ගෙදර ළමයා අන්ද්‍රේ
හරිම කම්මැලියා!
කාමරෙත් හරි අවුල්.
සෙල්ලම් බඩු විසුරුවලා!
සීයා දැකපු ගමන් අන්ද්‍රේ
කඩිසරව කාමරය අස් කළා.

"මම නම් කම්මැලි නැහැ
සීයේ. මං මගේ සෙල්ලම්
බඩුත් එක තැනක තියනවා."
අන්ද්‍රේ සීයාට කිව්වා.

සීයා තවත්
දොරකට
තට්ටු කළා.
ගේ ඇතුළෙ
කලබලයක්!




චිත්කා අයියා,
මීෂා නංගිට කියල
එයාගෙ වැඩපළ කරවා
ගන්නවා.
වැඩක් පළක් බැරි
කම්මැලියා හම්බ වෙන්න
සීයා ගේ ඇතුළටම
එබුණා.



චිත්කා පුටුවේ
හාන්සි වෙලා ඉඳන්
මීෂා නංගිට කියලා
එයාගෙ පයේ
සපත්තු දම්මවා
ගන්නවා.





"මෙන්න කම්මැලියා මගේ
අතටම අහුවුණා!" කියලා
සීයා ලියමන අතට ගත්තා.
ඒත් චිත්කා හරිම
කට්ටයෙක්.

"සීයේ මං කම්මැලි නෑ.
මේ නංගිගෙන් නෙ
බේරෙන්න බැරි.
එයාටම ඕනලු
මගේ සපත්තු දාන්න!"



ටානියාත් හරිම
කම්මැලි ළමයෙක්.
එයා ගෙදර දොරේ වැඩට
අම්මට උදව් කරන්නෙ නැහැ.



ඒත් තැපැල් සීයා දුටු හැටියෙම
ටානියා දුවලා ගිහින් අම්මට
උදව් කරන්න පටන් ගත්තා.

"මේ ළමයා නම් කම්මැලි නැති
පාටයි!" හොඳයි හොඳයි
කියමින් සීයා සිනාසෙමින් ගියා.



වැඩක් පළක් බැරි
කම්මැලියට ලියමන
දෙන්න ගිහින් දැන්
සීයටත් මහන්සියි!



බොරිස් කියන කුඩා
ළමයා කම්මැලි
නැතිව මල් පැළවලට
වතුර දමනවා!
සීයා මේ කඩිසර
මුනුපුරා දිහා
බලාගෙන හිටියා!

"සීයේ, සීයේ, ඔය
ලියමනේ මොනවද
කියලා තියෙන්නෙ?"
බොරිස් වතුර දමන
ගමන් අහනවා!

මේ ලියමන
වැඩක් පළක් බැරි
කම්මැලි ඔබටයි!



"හොඳයිකො!"
මම හෙටත් එන්නම්කො.
මං කොහොම හරි
වැඩක් පළක් බැරි
කම්මැලියා
අල්ල ගන්න ඕන.
ඔය පුතාලා දූලා වැඩක්
පළක් බැරි කම්මැලියා
ගැන දන්නවා නම් මට
කියන්න. මම ඔයාලගෙ
ගෙදරට යන්නම්.
ඒක ලොකු උදව්වක්.

මං මේ ලියමන වැඩක් පළක් බැරි
කම්මැලියාටම දෙන්න ඕන!"



ISBN 978-955-591-097-2

මිල රු. 120/-



කුරුළු පොත්
594/1, නාවල පාර,
රාජගිරිය
දුර: 2863350/0718263828

නිර්මාණය : වයි. අකිම්, චිත්‍ර - පියදෝර් ලෙම්කුල්, අනුවාදය : ගුණසේන විතාන, පරිගණක පිටු සැකසුම : එච්. ප්‍රදීප් දර්ශන
මුද්‍රණය: මධු ප්‍රින්ටින් වර්ක්ස් - උඩුපිල, දෙල්ගොඩ. 071 2324317